# 1 මැවුම්කරු අල්ලාහ්

අහස මැව්වේ අල්ලාහ් ය.

පොළොව මැව්වේ ද අල්ලාහ් ය.

අහස සහ පොළොව අතර ඇති සියල්ල මැව්වේ ද අල්ලාහ් ය.

ඒ සියල්ල පාලනය කරන්නා ද අල්ලාහ් ය.

ඔහු රබ්බුල් ආලමීන් වන්නේ ය.

سُبْحَانَ اللّٰهِ

සුබ්හානල්ලාහ්!

ගැළපෙන වචන යොදා හිස්තැන් පුරවන්න.

(හිරු, ගස, කන්ද, හඳ)

01. අහසේ ඇති දේවල් දෙකක්

1. ...................... 2. ..............................

02. පොළොවෙහි ඇති දේවල් දෙකක්

1. ..................... 2. ..............................

# 2 අල්ලාහ් සිහි කරමු

අපට ජීවත් වීමට

වාතය අවශ්‍ය ය

ජලය අවශ්‍ය ය.

ආහාර අවශ්‍ය ය.

අනෙක් ජීවීන්ට ද මේවා අවශ්‍ය ය.

මේ සියල්ල දෙන්නේ අල්ලාහ් ය.

සැම විට ම ඔහු සිහි කරමු.

**මේ සියල්ල ඔහුගෙන් ම ඉල්ලමු.**

## පිළිතුරු සපයන්න.

1. අපට ජීවත්වීමට අවශ්‍ය දේ

    අ) ආහාර

    ආ) ................................

    ඉ) ................................

2. අපට අවශ්‍ය වන ආහාර වර්ග

    අ) හාල්

    ආ) ................................

    ඉ) ................................

3. සතුන්ට හා පක්ෂීන්ට අවශ්‍ය ආහාර වර්ග

    අ) පලතුරු

    අ) ................................

    ඉ) ................................

# 3 ආමන්තු බිල්ලාහි

امَنْتُ بِاللّهِ وَمَلاَئِكَتِهِ وَكُتُبِهِ وَرُسُلِهِ
وَالْيَوْمِ الأَخِرِ وَالْقَدْرِ خَيْرِهِ وَشَرِّهِ
مِنَ اللّهِ تَعَالى

1 අල්ලාහ් විශ්වාස කළෙමි.

2 මලාඉකාවරුන් විශ්වාස කළෙමි.

3 දේව ග්‍රන්ථ විශ්වාස කළෙමි.

4 රසූල්වරුන් විශ්වාස කළෙමි.

5 අවසාන දිනය විශ්වාස කළෙමි.

6 කලා කද්රය විශ්වාස කළෙමි.

මේවා විශ්වාස කර
මුස්ලිම්වරයකු ලෙස ජීවත් වෙමු

අප විශ්වාස කළ යුතු කරුණු හය මොනවා ද?

## ක්‍රියාකාරකම

ආමන්ත්‍රු බිල්ලාහි යන පදය පාඩම් කර කියන්න.

# 4 මලක්වරුන් ඊමාන් කරමු

මලක්වරුන් මවනු ලැබුවේ ආලෝකයෙනි.

අපට ඔවුන් දැකිය නොහැකි ය.

එහෙත් ඔවුනට අප දැකිය හැකි ය.

ඔවුන්ගෙන් දහ දෙනෙකු ප්‍රධාන ය.

ඔවුන්ගෙන් හතර දෙනෙකුගේ නම් හා ක්‍රියාකාරකම් දැන ගනිමු.

1. ජිබ්රීල් අලයිහිස්සලාම්
   අල්ලාහ්ගේ අණ ගෙන එන්නා

2. මීක්කායීල් අලයිහිස්සලාම් -
   ආහාර, වර්ෂාව, සුළඟ වැනි දේ
   පාලනය කරන්නා

3. ඉස්රායීල් අලයිහිස්සලාම්
ජීවය අත්පත් කරන්නා

4. ඉස්රාෆීල් අලයිහිස්සලාම්
සූර් පිඹින්නා

මලක්වරුන් ඊමාන් කරමු.

ප්‍රධාන මලක්වරුන් හතර දෙනෙකුගේ නම් ලියන්න.

1. ............................................................

2. ............................................................

3. ............................................................

4. ............................................................

# 5 බුනියල් ඉස්ලාම්

# بُنِيَ الإِسْلَامُ

ඉස්ලාම් කරුණු පහක් මත ගොඩනැගී ඇත. ඒවා නම්,

1. සාක්ෂි කීම (කලිමා උසුරීම) — الشَّهَادَةُ
2. සලාතය ඉටු කිරීම — الصَّلَاةُ
3. සකාත් දීම — الزَّكَاةُ
4. සව්මය රැකීම — الصَّوْمُ
5. හජ් ඉටු කිරීම — الْحَجُّ

## ක්‍රියාකාරම

ඉහත කරුණු පහ කටපාඩම් කර කියන්න.

# 6 කලිමා ෂහාද

أَشْهَدُ أَنْ لَاإِلٰهَ إِلَّا اللهُ وَحْدَهُ لَا شَرِيكَ لَهُ
وَ أَشْهَدُ أَنَّ مُحَمَّداً عَبْدُهُ وَرَسُوْلُهُ

අෂ්හදු ඇන්ලාඉලාහ ඉල්ලල්ලාහු වහ්දහු ලා ෂරීක ලහු
වඅෂ්හදු ඇන්න මුහම්මදන් අබ්දුහු වරසූලුහු.

අල්ලාහ් හැර නැමදීමට වෙන සුදුස්සෙකු නැතැයි සාක්ෂි දරමි. ඔහු ඒකයකි. ඔහුට සමාන කිසිවකු නැත. තව ද මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා අල්ලාහ්ගේ ගැත්තකු බව ද, අල්ලාහ්ගේ රසූල්වරයා බව ද, සාක්ෂි දරමි.

කලිමා ෂහාදව කට පාඩම් කරන්න.

# 7 අල් අදාන්

අදාන් කියනවිට

එයට සවන් දෙමු

اَللّٰهُ أَكْبَـرُ . اللّٰهُ أَكْبَـرُ
اَللّٰهُ أَكْبَـرُ . اللّٰهُ أَكْبَـرُ

أَشْــهَـدُ أَنْ لَآ إِلٰـهَ إِلاَّ اللّٰهُ
أَشْــهَـدُ أَنْ لَآ إِلٰـهَ إِلاَّ اللّٰهُ

أَشْــهَـدُ أَنَّ مُحَمَّداً رَّسُولُ اللّٰهِ
أَشْــهَـدُ أَنَّ مُحَمَّداً رَّسُولُ اللّٰهِ

حَــيَّ عَلَى الصَّـلَاةِ
حَــيَّ عَلَى الصَّـلَاةِ

حَــيَّ عَلَى الْفَـلَاحِ
حَــيَّ عَلَى الْفَـلَاحِ

اَللّٰهُ أَكْبَـرُ  اللّٰهُ أَكْبَـرُ
لَآ إِلٰـهَ إِلاَّ اللّٰهُ

නිශ්ශබ්ද ව සිටිමු.

එයට පිළිතුරු දෙමු.

සලාතයට යමු.

ශිෂ්‍යයෙකු 'අදාන්' ලස්සනට කියද්දී පංතියේ සිටින අනෙක් ශිෂ්‍යයන් එයට පිළිතුරු දීම

# 8 පිරිසිදු ව සිටිමු - I

අපි නීරෝගී ව
ජීවත් වීමට පිරිසිදු ව
සිටිමු

අත්, පා, මුහුණ සෝදමු

නා සිරුර පිරිසිදු කරමු

නිය පොතු කපමු

හිස පීරා ලස්සන වෙමු

ඇඳුම් පිරිසිදු ව

තබා ගනිමු

පිරිසිදු ව ම සිටින්නට පාවහන් පලඳිමු

නිවසේ ඇති බඳුන් සෝද පිරිසිදු ව තබමු.

අප පිරිසිදු ව සහ ලස්සනට සිටින විට අන් අය අපට ආදරය දක්වනවා ඇත.

එවිට අල්ලාහ් ද අපට කැමති ය.

අල්ලාහ් ලස්සන ය. ඔහු ලස්සනට කැමැති ය.

හිස් තැන් පුරවන්න

1. නා සිරුර.............................කරමු.

2. හිස .................................... ලස්සන වෙමු.

3. නියපොතු ........................... පිරිසිදු ව සිටිමු.

# 9 පිරිසිදු ව සිටිමු - II

අවට පරිසරය පිරිසිදු ව තබා ගනිමු.

නිවස පිරිසිදු ව තබමු.

අන් අය පිරිසිදු කරන විට ඔවුන්ට උදවු කරමු.

පොත් පත්, ඇඳුම්, සෙල්ලම් බඩු ආදිය නියමිත තැන්වල තබමු.

ගෙවත්ත පිරිසිදු ව තබා ගනිමු.

මල් වවා ලස්සන කරමු.
එවාට ජලය සපයා ආරක්ෂා කරමු.

## අල්ලාහ් පාරිශුද්ධ ය. ඔහු පිරිසිදුකම ප්‍රිය කරයි.

හරි වැරදි කියන්න.

1) සිරුර පිරිසිදු කිරීමට ජලය ඕනෑ

( )

2) නිවාස පිරිසිදු කිරීමට උදැල්ල ඕනෑ

( )

3) පොළොව පිරිසිදු කිරීමට රේක්කය උදවු වෙයි.

( )

4) අවට පරිසරය පිරිසිදු කිරීමට කොස්ස උදවු වෙයි.

( )

# 10 හොඳ පුරුදු පිළිපදිමු

කිවිසුම් යවන විටත් කහින විටත් අත් ලේන්සුව භාවිත කරමු.

කිවිසුමකින් පසු නාසය සහ කට පිස දමමු. එවිට,

ٱلْحَمْدُ لِلّٰه
අල්හම්දු ලිල්ලාහ්!

යැයි අල්ලාහ්ට ප්‍රශංසා කරමු.

වම් පැත්තට කර කෙළ ගසමු.

ඇනුම් අරින අවස්ථාවේ දී කට අතින් වසා ගනිමු. එවිට,

أَعُوْذُ بِاللَّهِ مِنَ الشَّيْطَانِ الرَّجِيْمِ

අඋඍදු බිල්ලාහි මිනෂ්ෂයිතානිර් රජීම්

කියමු.

හොඳ පුරුදු පිළිපදිමු.

හොඳ ළමයින් ලෙස ජීවත් වෙමු.

යා කරන්න

| අ | ආ |
|---|---|
| කෑමට පෙර | اَلْحَمْدُ لِلّٰه |
| කිවිසුමකින් පසු | أَعُوْذُ بِاللّٰه |
| ඇනුම ඇරීමෙන් පසු | بِسْمِ اللهِ الرَّحْمٰنِ الرَّحِيْمِ |

# 11 පන්ති කාමරයේ පිරිසිදුකම සුරකිමු

පන්ති කාමරය පිරිසිදු ව හා ලස්සනට තබා ගනිමු.

පුටු, මේස පිළිවෙළට තබමු.

පන්ති කාමර බිත්ති කිලිටි නොකර තබා ගනිමු.

පොත් බෑගය, වතුර බෝතලය වැනි දේ නියමිත තැන්වල තබමු.

කුණු කසළ ඒවාට නියමිත තැන්වලට පමණක් දමමු.

සෑම නිර්මාණයක් ම ලස්සනට, පිළිවෙළට තබමු.

ඒවා දැක සතුටු වෙමු.

සෑම නිර්මාණයක් ම අගය කරමු.

සුව පහසු ලෙස ඉඳ ගනිමු.

පිරිසිදුකම ඊමාන්හි අඩකි යන්න පිළිගෙන ජීවත් වෙමු.

යා කරන්න.

| අ | ආ |
| --- | --- |
| පන්ති කාමරයේ ඇති දේ | රාක්ක |
| කුණුකසළ දන්නේ | බිත්තිය |
| ප්‍රදර්ශනය කරන ස්ථානය | මේස, පුටු |
| පොත්, වතුර බෝතල් තබන ස්ථානය | කසළ බඳුන |

# 12 හොඳ පුරුදු පිළිපදිමු I

නිදගන්නා ස්ථානය පිරිසිදු ව තබමු.

නින්දට පෙර දත් මදිමු.

ඇඳ සූදනම් කර ගනිමු.

නින්දට පෙර ඇඳ ඇතිරිලි ගසා දමමු.

اَللّٰهُمَّ بِاسْمِكَ أَمُوْتُ وَأَحْيَا

යන දුආව පාරායනය කරමු.

දකුණු පැත්තට හැරී නිඳ ගනිමු.

නින්දෙන් පසු අවදි වී

الْحَمْدُ لِلَّهِ الَّذِيْ أَحْيَانِيْ بَعْدَ مَا أَمَاتَنِيْ وَإِلَيْهِ النُّشُوْرُ

යන දුආව පාරායනය කරමු.

අල්ලාහ්ට ප්‍රසංසා කරමු.

ඉස්ලාමයපව සන මෙමය හමාර්ග අනුගමනය කරමු.

කුසල් රැස්කර ගනිමු.

පිළිවෙළට අංක කරන්න

- ★ දුආ පාරායනය ( )
- ★ දත් මැදීම ( )
- ★ ඇඳ සූදනම් කිරීම ( )
- ★ දකුණු පැත්තට හැරී නිද ගැනීම ( )

# 13 හොඳ පුරුදු පිළිපදිමු II

අපවිත්‍ර දෑ ඉවත් කිරීමට ඉස්ලාමය ක්‍රම කිහිපයක් පෙන්වා දී ඇත. ඒවා දැන ගෙන පිළිපදිමු.

මල පහ කිරීමට සුදුසු ම තැන වැසිකිළියයි.

වම් පය ඉදිරියෙන් තබා වැසිකිළියට ඇතුළු වෙමු

اَللّٰهُمَّ إِنِّيْ أَعُوْذُ بِكَ
مِنَ الْخُبُثِ وَالْخَبَائِثِ

යන දුආව පාරායනය කරමු.

එහි දී කතා කිරීමෙන් වළකිමු.

ආපසු එනවිට දකුණු පාදය ඉදිරියට තබා පිට වී පහත දුආව පාරායනය කරමු.

غُفْرَانَكَ

සබන් දමා අත් සෝද ගනිමු.

දෙපා සෝදා ගනිමු.

ඉස්ලාමීය සදාචාරයන් පිළිපදිමු.

නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම් තුමාගේ මඟ ගමන් කරමු.

හරි (✓) වැරදි (✗) ලකුණු කරන්න.

1. මල පහකිරීමෙන් පසු අත්සෝදාග නිමු. ( )

2. මල පහ කරද්දී කතා කිරීම හොඳ පුරුද්දක් නොවේ. ( )

3. දකුණු පාදය ඉදිරියට තබා වැසිකිළියට ඇතුළු වෙමු. ( )

# 14 සලකමු

අන් අයට සලකමු.

අසල් වැසියන්ට සලකමු.

අන් අයට උදවු කරමු.

සියලු සතුන්ට කරුණාව දක්වමු.

වයසින් බාල අයට කරුණාව දක්වමු.
වැඩිහිටියන්ට ගරු කරමු.

මේවා මුස්ලිම්වරුන්ට හිමි උතුම් ගුණාංග වේ.

මේ අනුව ජීවත් වෙමු.

යා කරන්න

| අ | ආ |
|---|---|
| අසල් වැසියන්ට | උදවු කරමු |
| සතුන්ට | ගරු රණු |
| අන් ඔඅය | සලකමු |
| වැඩිහිටියන්ට | කරුණාව  |

# 15 ආලිම්වරු

අල්ලාහ් ලැබ දුන් දැනුමත්
අප නබිඳුන්ගේ මාර්ගයත්
උගත් බුද්ධිමත් ආලිම්වරුනි
ඔබටයි ඒ ගරු නම්බු හිමි

කුර්ආන් පාරායනයටත්
සදහම් දහම් උගැනුමටත්
විනය රකිමින් ජීවත් වන්ටත්
උගන්වන්නේ ඔහු ම ය.

දැනුම සොයා එතුමන් වෙත
රැඳී ඉන්න ඔබත් එන්න
ලස්සන දිවියක් ගෙවීමට
සුදුසු ම මඟ එයයි සඳ

(1) ආලිම්වරු ගරුත්වය හිමි අය වෙති. ( )

(2) ආලිම්වරුන්ට ළං වීමට තහනම් ය. ( )

3) ඔවුහු ජීවත්වීමට මඟ පෙන්වන්නෝ ය. ( )

# 16 ගුරුවරයා

මහන්සි වී පාඩම් උගන්වනා
ජීවත් වන මග කියාදෙනා
ආලිම් වගේ ය ගුරුවරයා
අපි ඔහු යන මග යමු සැමදා

අකුරු ඉලක්කම් උගන්වමින්
ලෝකය ගැන සැම දේ කියමින්
ඔහු වෙත යන අප සියල්ලන්ටමත්
නැණ ගුණ දම් පහදයි සැමදා

කීකරු ව රැඳෙමින්
එතුමන්ට ගරු කරමින්
නබිගේ සුබ පැතුම් ලබමින්
අපිත් වෙමු හොඳ ළමයින්

යා කරන්න.

| | |
|---|---|
| ගුරුවරයා, උනන්දුවෙන් | කියා දෙයි |
| අකුරු, ලක්කම් | උගන්වයි |
| ජීවත් නවමග | පෙන්වයි |

# 17 ආදර්ශමත් දරුවා

'අහ්මද්' හොඳ දරුවෙක්
ලස්සන රුවක් ඇත්තෙක්
පිරිසිදු ව සිටින්නෙක්
ගුණවත් වූ දරුවෙක්

උදෑසනින් ඇහැරී සතුටින්
පාරායනාවන් නමදී බැතියෙන්
උනන්දුවෙන් පොත්පත් බලමින්
දවස ගෙවයි සැමදා සතුටින්

ඇත්ත ම විතරයි පවසන්නේ
අනුන්ට උදවු ද කරමින්නේ
අම්මට තාත්තට කරුණාවෙන්
සලකමිනුයි ජීවත් වන්නේ

ගුණවත් විදිහට ජීවත් වී
ඔහු වාගෙ ම හොඳ දරුවෙකු වී
අපිත් සිතමු ඒ විදියට ඉන්නට
රටටත් ලොවටත් වැඩ ගෙන දී

# 18 උදවු කරමු

අපි

මව්පියන්ට උදවු කරමු.

සොහොයුරු සොහොයුරියන්ටත් උදවු කරමු.

වැඩිහිටියන්ටත් බාලයන්ටත් උදවු කරමු.

අසල් වැසියන්ටත් යහළුවන්ටත් උදවු කරමු.

කිසිවකුටත් කරදර නොකරමු.

සතුන්ට හිංසා නොකරමු.

කුසල් කර ස්වර්ගයට පිවිසෙමු.
අකුසල් වළක්වා නිරයෙන් බැහැර වෙමු.

## ක්‍රියාකාරකම

යා කරන්න.

| අ | ආ |
| --- | --- |
| 1. අකුසල් වළක්වා | හිංසා නොකරමු |
| 2. අසල්වැසියන්ටත් යහළුවන්ටත් | නිරයෙන් බැහැර වෙමු. |
| 3. සතුන්ට | උදවු කරමු. |

# 19 මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා

මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ පියා අබ්දුල්ලා ය.

එතුමා ඉපදෙන විට පියා මිය ගොස් සිටියේ ය.

එතුමාගේ මව ආමිනා ය.

මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා හලීමා නම් කිරි මවගෙන් කිරි බීවේ ය.

වයස අවුරුදු හය වන විට මව ද මරණයට පත් වූවා ය.

පසු ව අබ්දුල් මුත්තලිබ් ළඟ හැදී වැඩුණේ ය.

වයස අවුරුදු අට වන විට ඔහු ද මිය ගියේ ය.

ඉන් පසු මහප්පා වූ අබූතාලිබ් ළඟ හැදී වැඩුණේ ය.

වැඩිහිටියකු වන තෙක් ම එතුමා වැඩුණේ ඔහු සමඟ ය.

හිස්තැන් පුරවන්න.

1. මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ පියා ................ ය.

2. එතුමා ........................ නම් කිරි මවගෙන් කිරි බීවේ ය.

3. මවගේ මරණයෙන් පසු ........................ ළඟ හැදී වැඩුණේ ය.

4. වැඩිහිටියෙකු වන තෙක් ........................ ළඟ හැදී වැඩුණේ ය.

# 20 අවසාන දූතයාණෝ

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ අල්ලාහ්ගේ දූතයාණෝ ය.

අවසාන දූතවරයා එතුමා ය. එම නිසා එතුමාට කාතමුන් නබි කියා ද පැවසෙයි.

එහි තේරුම අවසාන නබිවරයා යන්නයි.

එතුමාගේ නම ඇසෙද්දී ද එතුමාට අපි සලවාත් කියමු.

اَللّٰهُمَّ صَلِّ وَسَلِّمْ عَلَى سَيِّدِنَا مُحَمَّدٍ

وَعَلَى آلِ سَيِّدِنَا مُحَمَّدٍ

### ක්‍රියාකාරකම

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාට කියන සලවාතය පාඩම් කර කියන්න.

# 21 සියල්ලන්ගේ ම දූතයාණෝ

මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ අල්ලාහ්ගේ දූතයාණෝ ය.

එතුමා ඉපදුණේ අරාබියාවේ මක්කා නගරයේ ය.

සෑම කාලයකට ම දූතයාණෝ ය.

එතුමාණෝ සියලු ජනතාවගේ දූතයාණෝ ය.

එතුමාණෝ මුළු ලොවට ම දූතයාණෝ ය.

හරි වැරදි කියන්න

(1) නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ අල්ලාහ්ගේ දූතයාණෝ ය.

( )

(2) එතුමාණෝ මදීනාවේ ඉපදුණෝ ය.

( )

(3) එතුමාණෝ සියලු ජනතාවගේ දූතයාණෝ ය.

( )

(4)එ තුමාණෝ අරාබි මිනිසුන්ට පමණක් දූතයාණෝ ය.

( )

# යහපත් ගුණාංග

මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ වැඩිහිටියන්ට සලකති.
වැඩිහිටියන්ට ගරු කරති.

ඔවුන්ට කීකරු ව කටයුතු කරති.

ඒ අයගේ ගෞරවයට ලක්වෙති.

බාලයන්ට කරුණාව දක්වති.

ඔවුනට උදවු ද කරති.

අපි ද වැඩිහිටියන්ට ගරු කරමු.

බාලයන්ට කරුණාව දක්වමු.

පහත ඇති වචනවලින් නිවැරදි තේරුම් ඇති වචන තෝරා ලියන්න.

(1) වැඩිහිටියන්ට ගරු කළ යුතු ය.
(2) බාලයන්ට කරුණාව දක්විය යුතු ය.
(3) වැඩිහිටියන්ට පමණක් උදවු කළ යුතු ය.
(4) වැඩිහිටියන් කියන දේ අසා කටයුතු කළ යුතු ය.
(5) බාලයන්ට උදවු කළ යුතු ය.

1. ..............................................................

2. ..............................................................

3. ..............................................................

4. ..............................................................

5. ..............................................................

# 23 සූරතුල් ඉඛ්ලාස්

## سُوْرَةُ الْإِخْلَاصِ

කුල් හුවල්ලාහු අහද්.

අල්ලාහුස් සමද්.

ලම් යලිද්, වලම් යූලද්.

වලම් යකුල් ලහූ කුෆ්වන් අහද්.

සූරතුල් ඉඛ්ලාස් අල්ලාහ් ගැන පමණක් පවසන සූරාවකි.

මෙම සූරාව පාරායනය කරමු.

එයට සවන් දෙමු.

එය කට පාඩම් කර පාරායනය කරමු.

සූරතුල් ඉඛ්ලාස් කටපාඩම් කර කියන්න.

# 24 මස්ජිද් I

මස්ජිද් ශුද්ධ වූ ස්ථානය වන්නේ ය.

එය අල්ලාහ්ගේ මාළිගාවයි.

එයට පිවිසීමට පෙර අප පිරිසිදු කර ගත යුතු ය.

අපගේ සිරුර ද ඇඳුම් ද පිරිසිදු කර ගත යුතු ය.

ගරු සරු ව ඇඳුම් ඇඳගෙන යා යුතු ය.

මස්ජිදයට යා යුත්තේ පාවහන් ඉවත් කළ පසු ව ය.

දකුණු පාදය ඉදිරියට තබා ඇතුළු විය යුතු ය.

මස්ජිදයට ගරු කළ යුතු ය.

හරි නම් ( ✓ ) ලකුණ ද වැරදි නම් ( ✗ ) ලකුණ ද යොදන්න.

1. මස්ජිද් ශුද්ධ වූ ස්ථානයකි. ( )

2. මස්ජි දයට යා යුත්තේ පාව හන් ඉවත් නොකර ය. ( )

# 25 මස්ජිද් II

මස්ජිදයේ නිශ්ශබ්ද ව සිටිය යුතු ය.

එහි සිටින විට වුලූඃ සමඟ සිටීම සුදුසු ය.

එහි දී පෙළට වාඩි වී සිටිය යුතු ය.

එහි ගරුත්වය රැක ගත යුතු ය.

එහි සලාතය ඉටු කෙරෙයි.

දේශනා ද පැවැත්වේ.

එහි දී සිදුවන හොඳ කටයුතුවලට අප ද සහභාගි විය යුතු ය.

එහි දී වෙනත් හොඳ කටයුතු ද සිදු වෙයි.

අපි ද ඒවාට සහභාගි වී පින් ලබා ගනිමු.

මස්ජිදයෙහි දී පිළිපැදිය යුතු දේවල් පොත බලා ලියන්න.

1. ..............................................................

2. ..............................................................

3. ..............................................................

4. ..............................................................

5. ..............................................................

# 26 ඉමාම් අබ්දුල් කාදිර් ජීලානි රහ්මතුල්ලාහි අලයිහි

ඉමාම් අබ්දුල් කාදිර් ජීලානි රහ්මතුල්ලා හි ආලයිහි තුමා ' ජීලානි' යන ගමේ උපන්නේ ය.

ඔහුගේ පියා සෙයියිද් අබූ සාලිහ් ය.

මව උම්මුල් කයිර් ය.

කුඩා කාලයේ පටන් ම ඔහු ඇත්ත කතා කරන්නෙක් විය.

මවට කීකරු ව ජීවත් විය.

ඉගෙනීමට උනන්දු වූ ඔහු ඉගෙනුම සඳහා බග්දද් නගරයට ගියේ ය.

බග්දදයේ දී උගත් එතුමා උසස් විද්වතෙකු බවට පත් විය.

එතුමා ජනතාවට දේශනා පැවැත්වීය.

එම දේශනා අසා බොහෝ දෙනෙක් යහ මඟට හැරුණෝ ය.

ඉස්ලාමීය ලෝකය එතුමන් අගයයි.

අපිත් හොඳින් ඉගෙන ගෙන එතුමන් මෙන් ඉහළ තත්ත්වයකට පත්වෙමු.

(1) ඉමාම් අබ්දුල් කාදිර් (රහ්) ගේ ගම ............. ය.

(2) ඔහුගේ පියා .......................... ය.

(3) ඔහුගේ මව .......................... ය.

(4) ඔහු ඉගෙනුම ලැබූ තැන ..................... ය.